# bugs නිසා අවුල් වුණු iOS 13

iOS 13 සංස්කරණය නිල වශයෙන් නිකුත් කිරීමට ඇපල් සමාගම පසුගිය දිනෙක කටයුතු කළා. නමුත් එහි පවතින bugs කිහිපයක් නිසාවෙන් 13.1 සංස්කරණයත් ඉතා ඉක්මනින් එවීමට ඔවුන්ට සිදුවුණා. නමුත් මේ නව සංස්කරණයේත් bugs තිබෙන බව මේ වෙද්දී අනාවරණය වෙලා ඉවරයි. මේ අලුත් ගැටලුව වන්නේ ඔබ භාවිත කරන 3rd party keyboards, එනම් iOSවල තිබෙන default keyboard එකට අමතරව භාවිත කරන වෙනත් Keyboards appවලට ඔබ අවසර ලබා දුන්නත් නැතත්, ජංගම දුරකථනයේ full access ලැබෙන බවයි. මේ අනුව එවැනි ඕනෑම Keyboard එකකට ඔබ ඒ හරහා type කරනු ලබන දේ සියල්ල ඔබේ අවසරයකින් තොරව internet හරහා ඔවුන්ගේ server වෙතට upload කරගැනීමේ හැකියාව ලැබෙනවා. මෙම ගැටලුව හැකි ඉක්මනින් විසඳීමට කටයුතු කරනු ලබන බව Apple සමාගම දන්වා සිටින අතර මේ වන විටත් iOS 13.2 සංස්කරණය beta testing අවස්ථාවේ තිබෙන බව දැනගන්නට ලැබෙනවා.






■ චනුක නදුන්




# Internet එකට ලීක්වුණු Pixel 4 Photos

Google සමාගම නිකුත් කරන Pixel ජංගම දුරකථන මාලාව ලෝකය පුරා අතිශය ජනප්‍රිය බවට පත්වූවක්. විශේෂයෙන්ම මේ දුරකථන මාලාවේ කැමරා පද්ධතිය කාගේත් සිත් ඇදගන්නට සමත්ව තිබෙනවා. ඉදිරියේදී නිකුත් කරන්නට ඇති Pixel 4 දුරකථනය පිළිබඳව මේ වෙද්දීත් විශාල කතාබහක් තාක්ෂණික ලෝකයේ ඇතිව තිබෙන බව ඔබ දන්නවා ඇති.

සාමාන්‍යයෙන් ජංගම දුරකථනයක් නිකුත් වෙන්නට කලින් එහි පෙනුම සහ එහි විස්තර අන්තර්ජාලයට නිකුත් වීම පුරුද්දක් ලෙස සිදුවන්නකි. සමහර අවස්ථාවන්වල දුරකථන සමාගම් හිතාමතාම මේ දත්ත අන්තර්ජාලයට කාන්දු කිරීමත් සිදුකරනවා. ඒ ඔවුන්ගේ දුරකථනය ප්‍රචාරණයක් සිදුකර ගැනීම අරමුණු කරගෙනයි.

පසුගිය දිනෙක google සමාගම pixel 4 දුරකථනය සඳහා නිර්මාණය කළ බවට සැලකෙන ප්‍රචාරණ වෙළෙඳ පටයක් (promotional video එකක්) අන්තර්ජාලයට එකතු කිරීමට ස්පාඤ්ඤ ජාතික Proandroid වෙබ් අඩවිය සමත් වුණා. ඒ වගේම සම්පූර්ණ pixel 4 ජංගම දුරකථනයේ යැයි සැලකිය හැකි ඡායාරූප පෙළක් theverge.com වෙබ් අඩවිය වෙත යම් පුද්ගලයකු විසින් එවා තිබුණා.



# සල්ලි පස්සේ දුවන්නැති Tec ඉස්කෝලේ

tech ගෙන දැනගන්න ඉගෙන ගන්න අපි හැමෝම කැමැතියි. ඒත් අපි බොහෝදෙනකුට තියෙන ගැටලුවක් තමයි භාෂාමය ප්‍රශ්නේ. technews.lk කියන්නේ ඒ ගැටලුව විසඳන්න ඉදිරිපත් වුණු පිරිසක් විසින් නිර්මාණය කරපු වෙබ් අඩවියක්. ඔවුන්ගේ app එකත් පසුගිය වසරේ ඔවුන් එළිදැක්වූවා. ඒ වගේම Best Web.lk2019 තරගාවලියේ Best Media Sport Entertainment Website එකට හිමි Silver Award එක දිනාගැනීමට technews.lk වෙබ් අඩවිය සමත් වුණා. technews.lk community powered website එකක් ආරම්භ කරන්නේ ඔවුන් සමඟ සම්බන්ධ වී දැනුම බෙදාගන්න කැමැති ඕනෑම අයකුට අපූර්ව තෝතැන්නක් බවට පත්වෙමින්. බොහෝ වෙබ් අඩවි මුදල් අරමුණු කරගෙන නිර්මාණය වුණත් මේ වෙබ් අඩවියේ මූලික අරමුණ දැනුම බෙදාගැනීමයි.

# Galaxy Fold නැවතත් Failed

නැවතත් Galaxy Fold ජංගම දුරකථනය අසාර්ථක බවට මතයන් පළවෙමින් පවතිනවා. Galaxy Fold ජංගම දුරකථනය භාවිත කිරීමේදී එය ඉතාමත් පරිස්සමෙන් භාවිත කළ යුතු බව හා අනුගමනය කළ යුතු උපදෙස් කිහිපයක් පිළිබඳව වීඩියෝවක් නිකුත් කිරීමටද Samsung සමාගම කටයුතු කර තිබෙනවා. පෙර නිකුත් කළ දුරකථනය අසාර්ථක වීම නිසාවෙන් ඔවුන් ඒ අඩුපාඩු සකස් කර නැවත වෙළෙඳපොළට දැමීමට කටයුතු කළා. නමුත් එයට තවමත් ඉතා ඉක්මනින් හානි සිදුවිය හැකි බවට මේ වෙද්දීත් කතාබහක් ගොඩනැඟී අවසානයි. Samsung සමාගම පවසන ආකාරයට මෙම Foldable දුරකථන තිරය පීඩනයට ඔරොත්තු නොදෙන අතර Galaxy Fold දුරකථන දෙකට නැවීමේදී තිර දෙක අතර කුණු දූවිලි අංශු රැස් නොවන නමුත් දෙපස තිර දෙකෙහි ඇති චුම්බක මඟින් වෛද්‍ය උපකරණ Credit Card යතුරු වැනි උපකරණවලින් බාධා එල්ල වියහැකි බවට අනතුරු හඟවනවා. ඇමෙරිකානු ඩොලර් 1980ක මිලට මේ දුරකථනය දැන් වෙළෙඳපොළට නිකුත් වී අවසානයි.

